**62 | S | I, II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)**
**General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)**

| | |
|---|---|
| **පුරවැසි අධ්‍යාපනය I, II**<br>குடியியற் கல்வி I, II<br>Civic Education I, II | **පැය තුනයි**<br>*மூன்று மணித்தியாலம்*<br>*Three hours* |

**අමතර කියවීම් කාලය** - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## පුරවැසි අධ්‍යාපනය I

**උපදෙස්:**

- ※ **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- ※ අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
- ※ **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
- ※ එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ඍජු ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක වූ ඇතැන්ස් පෞර රාජ්‍යයේ පාලන කටයුතුවලට සහභාගි වීමට අවස්ථාව හිමි වූ කණ්ඩායම වන්නේ,
(1) කාන්තාවන් ය. (2) පිරිමි පුරවැසියන් ය. (3) විදේශිකයන් ය. (4) රාජ්‍ය සේවකයන් ය.

**2.** පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක දේශපාලන විධායකය වන්නේ,
(1) ජනාධිපතිවරයා ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලයයි.
(2) අගමැතිවරයා ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලයයි.
(3) කථානායකවරයා ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලයයි.
(4) සභානායකවරයා ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලයයි.

**3.** බහු සංස්කෘතික සමාජයක පුරවැසියකු ප්‍රගුණ කළ යුතු ගුණාංගයක් වන්නේ මින් කුමක් ද?
(1) එක් ජන වර්ගයකට අයත් අයිතිවාසිකම් ආරක්ෂා කිරීම
(2) අන්‍ය ආගම් පිළිගෙන ඒවා අනුගමනය කිරීම
(3) අන් අයගේ මතවාද හා අදහස් සන්නිවේදනය කිරීම
(4) අන් අය සමග ගැටුම් ඇති නොවන සේ ජීවත්වීම

**4.** ශ්‍රී ලංකාව තුළ ආගමක් පදනම් කරගෙන සකස් වී ඇති නීතිය කුමක් ද?
(1) තේසවලාමේ නීතිය (2) උඩරට නීතිය (3) මුස්ලිම් නීතිය (4) රෝම ලන්දේසි නීතිය

**5.** පළාත් සභාවක ආණ්ඩුකාරවරයා සතු බලතලයක් වන්නේ මින් කුමක් ද?
(1) පළාත් සභා ප්‍රඥප්තීන් අනුමත කිරීම (2) පළාත් සභාවට නීති උපදෙස් ලබාදීම
(3) පළාත් සභා අයවැය ලේඛන සකස් කිරීම (4) පළාත් සභාවේ ආර්ථික සැලසුම් සකස් කිරීම

**6.** පාර්ලිමේන්තුව විසුරුවා හැරීමට බලය ඇත්තේ පහත සඳහන් කවර තනතුරකට ද?
(1) අගමැතිවරයා (2) කථානායකවරයා (3) ජනාධිපතිවරයා (4) සභානායකවරයා

**7.** ශ්‍රී ලංකාව කාන්තා අයිතිවාසිකම් ආරක්ෂා කරදීම සඳහා ගෙන ඇති ක්‍රියාමාර්ගයක් වන්නේ,
(1) කාන්තාවන්ට රැකියාවල නිරත වීමට අවසර ලබාදීමයි.
(2) සෑම පොලිසියකම ළමා හා කාන්තා අංශයක් පිහිටුවීමයි.
(3) කාන්තාවන් සඳහා සෞඛ්‍ය සායන පවත්වා ගෙන යාමයි.
(4) අවුරුදු 18 ට වැඩි කාන්තාවන් සඳහා ඡන්ද බලය ලබාදීමයි.

[දෙවැනි පිටුව බලන්න.

**8.** සමාජ පරිසරයට හානි පැමිණවීම නිසා ඇති විය හැකි ප්‍රතිඵලයක් වන්නේ,
(1) පවුල් සංස්ථා බිඳවැටීමයි.
(2) නොදිරන අපද්‍රව්‍ය එකතුවීමයි.
(3) වසංගත රෝග පැතිරීමයි.
(4) කෘෂි අස්වැන්න අඩුවීමයි.

**9.** ණය අර්බුදයෙන් මිදීම සඳහා මෑතකදී ශ්‍රී ලංකාවට ආධාර ලබාදුන් ජාත්‍යන්තර ආයතනය කුමක් ද?
(1) ලෝක බැංකුව
(2) ජාත්‍යන්තර මූල්‍ය අරමුදල
(3) ආසියානු සංවර්ධන බැංකුව
(4) චීන සංවර්ධන බැංකුව

**10.** ඡන්ද කොට්ඨාස අනුව පාර්ලිමේන්තුවට මහජන නියෝජිතයන් තෝරාගැනීම නිසා ලැබෙන වාසියක් වන්නේ,
(1) නිදහස් මැතිවරණ පැවැත්වීමට හැකිවීමයි.
(2) සාමකාමී වාතාවරණයක් ඇති කිරීමට හැකිවීමයි.
(3) ප්‍රජාතන්ත්‍ර විරෝධී ක්‍රියා පාලනය කිරීමට හැකිවීමයි.
(4) ප්‍රාදේශීය සංවර්ධනයට අවස්ථා සැලසීමට හැකිවීමයි.

**11.** පුද්ගලික පාර්ශ්ව දෙකක් අතර ඇතිවන ආරවුල් නිරාකරණය සඳහා යොදාගත හැකි නීතිය කුමක් ද?
(1) උඩරට නීතිය (2) අපරාධ නීතිය (3) සිවිල් නීතිය (4) රෝම ලන්දේසි නීතිය

**12.** රටක ව්‍යවස්ථාදායකය සතු කාර්යයක් සඳහන් වන වරණය තෝරන්න.
(1) නීති පසිඳලීම
(2) නීති විවරණය කිරීම
(3) නීති ක්‍රියාවට නැංවීම
(4) නීති සම්මත කිරීම

**13.** ගැටුම් නිරාකරණයේදී 'සාකච්ඡා ක්‍රමය' භාවිත කිරීමෙන් දෙපාර්ශ්වයටම ලැබිය හැකි වාසියක් වන්නේ,
(1) පැමිණිලිකරුට ජය හිමිවීම ය.
(2) ජය ජය විසඳුම් ලැබීම ය.
(3) විත්තිකරුට ජය හිමිවීම ය.
(4) අඩු කාලයකින් විසඳුම් ලැබීම ය.

**14.** තරඟකාරී වෙළෙඳපොළක් දැකිය හැකි වන්නේ මින් කුමන අර්ථ ක්‍රමයක් යටතේ ද?
(1) ධනවාදී අර්ථ ක්‍රමයක
(2) සමාජවාදී අර්ථ ක්‍රමයක
(3) මිශ්‍ර අර්ථ ක්‍රමයක
(4) වෙළෙඳපොළ අර්ථ ක්‍රමයක

**15.** පරිවර්තන ආර්ථික ක්‍රමයක දක්නට ලැබෙන ලක්ෂණයක් තෝරන්න.
(1) රාජ්‍ය ව්‍යවසාය පැවැත්වීම දිරිගැන්වීම
(2) සියලුම දේපළ රාජ්‍ය සම්පත් ලෙස සැලකීම
(3) ව්‍යාපාර සඳහා සහනාධාර ලබාදීම
(4) පාඩු ලබන රාජ්‍ය ව්‍යවසාය පෞද්ගලීකරණය කිරීම

**16.** මානව හිමිකම් අතුරෙන් රටවල් තම ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට ඇතුළත් කර ඇති අයිතිවාසිකම් හඳුන්වන්නේ,
(1) මානව අයිතිවාසිකම් ලෙසිනි.
(2) ළමා අයිතිවාසිකම් ලෙසිනි.
(3) මූලික අයිතිවාසිකම් ලෙසිනි.
(4) කාන්තා අයිතිවාසිකම් ලෙසිනි.

**17.** පහත සඳහන් කාර්යයන් අතුරෙන් මහ නගර සභාවක් සතු බලතලයක් **නොවන්නේ** කුමක් ද?
(1) මාර්ගවලට විදුලි ආලෝකය සැපයීම
(2) පුස්තකාල පහසුකම් ඇති කිරීම
(3) කිරුම් මිනුම් කටයුතු පාලනය කිරීම
(4) මහ නගර සභාවක සීමා නිර්ණය කිරීම

**18.** මානව ක්‍රියාකාරකම් හේතු කොටගෙන පරිසර පද්ධතියේ සිදුවන වෙනස්කම් නිසා උද්ගත වී ඇති පාරිසරික ගැටලුව කුමක් ද?
(1) රටවල් අතර යුද්ධ ඇතිවීම
(2) ගෝලීය උණුසුම වැඩිවීම
(3) දිළිඳුකම ක්‍රමයෙන් වැඩිවීම
(4) භූමිකම්පා නිතර ඇතිවීම

**19.** සාප්පු හා කාර්යාල සේවක පනත මගින් ආරක්ෂාව සැපයෙන්නේ පහත සඳහන් කුමන කණ්ඩායමක අයිතිවාසිකම් සඳහා ද?
(1) කාන්තා අයිතිවාසිකම්
(2) පුරවැසි අයිතිවාසිකම්
(3) කම්කරු අයිතිවාසිකම්
(4) ළමා අයිතිවාසිකම්

**20.** යුදමය අරමුණු පදනම් කරගෙන බිහි වූ ජාත්‍යන්තර සංවිධානය කුමක් ද?
(1) සාර්ක් සංවිධානය
(2) ආසියාන් සංවිධානය
(3) යුරෝපා සංවිධානය
(4) නේටෝ සංවිධානය

[තුන්වැනි පිටුව බලන්න.

**21.** යහපාලන ආණ්ඩු ක්‍රමයකදී අවධානය යොමු විය යුතු දේශපාලන සාධකයක් වන්නේ මින් කුමක් ද?
(1) අන්‍ය සංස්කෘතීන්ට ගරු කිරීම
(2) කැමති ආගමක් ඇදහීම
(3) කැමති දේශපාලන මතවාදයක් ඇරීම
(4) වෘත්තීය සමිති පිහිටුවා ගැනීම

**22.** ගැටුම් නිරාකරණ ක්‍රමයක් ලෙස 'සමථකරණය' යොදාගත හැකි වන්නේ කුමන ආකාරයක ගැටුම් විසඳීමට ද?
(1) පුද්ගලයන් අතර පවතින ගැටුම්
(2) ජාතීන් අතර පවතින ගැටුම්
(3) රටවල් අතර පවතින ගැටුම්
(4) ආගම් අතර පවතින ගැටුම්

**23.** ගෝලීයකරණය තුළ දක්නට ලැබෙන විශේෂ ලක්ෂණයක් වන්නේ,
(1) දේපළ අයිතිය පොදු වීමයි.
(2) වැඩලෝකය පුළුල් වීමයි.
(3) ගෝලීය වෙළෙඳපොළ පටු වීමයි.
(4) මූල්‍ය අර්බුද ඇති වීමයි.

**24.** ඕනෑම සංස්කෘතියක දැකිය හැකි ලක්ෂණ **නිවැරදිව** දක්වා ඇති වරණය තෝරන්න.
(1) ආගම, භාෂාව, කලාව, ඇදහිලි සහ විශ්වාස
(2) ආගම, භාෂාව, කලාව, ඇදහිලි සහ වාතය
(3) ආගම, භාෂාව, ජලය, ඇදහිලි සහ විශ්වාස
(4) ආගම, භාෂාව, කලාව, දේශගුණය සහ විශ්වාස

**25.** නාවුක අධිකරණ බලය සතු අධිකරණ ආයතනය මින් කුමක් ද?
(1) ශ්‍රේෂ්ඨාධිකරණය
(2) අභියාචනාධිකරණය
(3) මහාධිකරණය
(4) දිසා අධිකරණය

**26.** රටක යහපාලනය ක්‍රියාත්මක වීමෙන් අත්වන වැදගත්ම ප්‍රතිලාභය වන්නේ,
(1) නිදහස් හා සාධාරණ මැතිවරණ පැවැත්වීම ය.
(2) ආදායම් බෙදීයාමේ විෂමතාව අඩුවීම ය.
(3) යටිතල පහසුකම් සංවර්ධනය කිරීම ය.
(4) ජන කණ්ඩායම් අතර විශ්වාසය තහවුරු වීම ය.

**27.** මධ්‍යම ආණ්ඩුව, පළාත් සභා හා පළාත් පාලන ආයතන සම්බන්ධව පුරවැසියාගෙන් ඉටුවිය යුතු යුතුකමක් වන්නේ කුමක් ද?
(1) ඵලදායි ජීවන වෘත්තියක නිරත වීම
(2) සමාජ සංහිඳියාව ඇති කිරීම
(3) සංස්කෘතික උරුම ආරක්ෂා කිරීම
(4) ජාතික අභිමානය ඉහළ නැංවීම

**28.** පහත සඳහන් පිළිතුරු අතුරෙන් ආර්ථික, සමාජීය හා සංස්කෘතික අයිතිවාසිකම් යටතට අයත් වන අයිතිවාසිකමක් වන්නේ කුමක් ද?
(1) නිදහස් මත ප්‍රකාශ කිරීමේ අයිතිය
(2) නිදහස් ගමනාගමනයට ඇති අයිතිය
(3) පෞද්ගලික දේපළ ඇරීමට ඇති අයිතිය
(4) පෞද්ගලික ආරක්ෂාවට ඇති අයිතිය

**29.** ආර්ථිකයක සිදුවන ක්‍රියාවලීන් **නිවැරදිව අනුපිළිවෙළින්** දක්වා ඇත්තේ කුමන වරණයේ ද?
(1) නිෂ්පාදනය, බෙදාහැරීම, පරිභෝජනය
(2) නිෂ්පාදනය, පරිභෝජනය, බෙදාහැරීම
(3) බෙදාහැරීම, නිෂ්පාදනය, පරිභෝජනය
(4) පරිභෝජනය, බෙදාහැරීම, නිෂ්පාදනය

**30.** උපතේදී ආයු අපේක්ෂාව, අධ්‍යාපනය හා ක්‍රය ශක්තිය පදනම් කරගෙන මනිනු ලබන දර්ශකය කුමක් ද?
(1) ඒක පුද්ගල ආදායම් දර්ශකය
(2) මානව සංවර්ධන දර්ශකය
(3) භෞතික ජීවන තත්ත්ව දර්ශකය
(4) මානව දරිද්‍රතා දර්ශකය

**31.** දේශගුණික වෙනස්වීම් නිසා පරිසරය තුළ සිදුවන **අහිතකර** ප්‍රතිඵලය දක්වා ඇති වරණය තෝරන්න.
(1) ආහාරදාම බිඳ වැටීම
(2) ඔක්සිජන් වායුව හිඟ වීම
(3) දූවිලි වලාවන් ඇති වීම
(4) සාගර ජල මට්ටම වැඩි වීම

**32.** ජාත්‍යන්තර සබඳතා පැවැත්වීම මගින් ඉටු කර ගැනීමට අපේක්ෂා කරන අරමුණක් **නොවන්නේ** මින් කුමක් ද?
(1) ජාත්‍යන්තර ආයතනවල පූර්ණ සාමාජිකත්වය ලබාගැනීම
(2) ප්‍රබල රාජ්‍යවලින් එල්ලවන බලපෑම්වලින් ආරක්ෂා වීම
(3) තනිව ඉටු කර ගත නොහැකි දේ සාමූහිකව ඉටු කරගැනීම
(4) ආරක්ෂණවාදී ප්‍රතිපත්තිවලින් ඇතිවන බාධාවලට මුහුණ දීම

[හතරවැනි පිටුව බලන්න.

110243

**33.** සේව්‍ය-සේවක දෙපාර්ශ්වය අතර ඇතිවන වෘත්තීය ගැටලු විසඳා ගැනීමට යොදාගත හැකි සුදුසුම ක්‍රමවේදය වන්නේ,

(1) සමථකරණයයි. (2) සහමන්ත්‍රණයයි. (3) මැදිහත්කරණයයි. (4) උපදේශනයයි.

**34.** පළාත් සභා ක්‍රමය යටතේ මධ්‍යම ආණ්ඩුව හා පළාත් සභා අතර සම්බන්ධීකරණය සිදු වන්නේ,

(1) පළාත් ආණ්ඩුකාරවරයා මගිනි. (2) පළාත් මහ ඇමතිවරයා මගිනි.
(3) පළාත් ප්‍රධාන ලේකම්වරයා මගිනි. (4) පළාත් අමාත්‍ය මණ්ඩලය මගිනි.

**35.** තරගකාරි පක්ෂ ක්‍රමයක දැකිය හැකි යහපත් ලක්ෂණයක් වන්නේ,

(1) විධායකය ඉවත් කිරීමට පක්ෂ නායකයන්ට හැකිවීම ය.
(2) ජනතා නියෝජිතයන් තෝරාපත් කරගැනීමට හැකිවීම ය.
(3) ජාතීන් අතර ඇතිවන ගැටුම් විසඳා ගැනීමට හැකිවීම ය.
(4) අත්තනෝමතික පාලනයක් වැළැක්වීමට හැකිවීම ය.

**36.** රාජ්‍යයකට පැවරෙන කාර්යයන් අතුරෙන් වඩාත් වැදගත් කාර්යය කුමක් ද?

(1) එක් ජාතියක් සඳහා එක් රාජ්‍යයක් බිහි කිරීම
(2) ජාතීන් සතු නිර්මාණශීලීත්වය දියුණු කිරීම
(3) නීතිය හා සාමය ආරක්ෂා කිරීම
(4) ආගම් අතර සංහිඳියාව ඇති කිරීම

**37.** පළාත් සභාවක මහ ඇමති සහ අමාත්‍ය මණ්ඩලය සතු කාර්යයක් වන්නේ,

(1) හදිසි ආපදාවලදී ජනාධිපතිගේ උපදෙස් මත ක්‍රියාකිරීමයි.
(2) මධ්‍යම ආණ්ඩුවේ නියෝජිතයෙකු ලෙස කටයුතු කිරීමයි.
(3) පළාතේ ආර්ථික සංවර්ධනය හා පරිපාලනය සැලසුම් කිරීමයි.
(4) පළාතේ මාර්ග සංවර්ධනය වැඩි කර ගැනීමට කටයුතු කිරීමයි.

**38.** ජාතික පරිසර පනතට අනුව පරිසර සංරක්ෂණය පිළිබඳ වගකීම දරන ප්‍රධාන ආයතනය කුමක් ද?

(1) පරිසර සංරක්ෂණ අමාත්‍යාංශය (2) මධ්‍යම පරිසර අධිකාරිය
(3) වනජීවී සංරක්ෂණ දෙපාර්තමේන්තුව (4) සමුද්‍රීය පරිසර ආරක්ෂණ අධිකාරිය

**39.** පහත ප්‍රකාශ සලකා බලන්න.

A - කෘෂිකාර්මික කටයුතු නවීකරණය මගින් අස්වනු වැඩි වේ.
B - මිනිසාගේ දියුණුවත් සමග ස්වභාවික පරිසරයට කාර්මික අපද්‍රව්‍ය එකතු වීම වැඩි වේ.

මෙම ප්‍රකාශ දෙක අතුරෙන්,

(1) A සත්‍ය වන අතර B අසත්‍ය වේ.
(2) A අසත්‍ය වන අතර B සත්‍ය වේ.
(3) A හා B දෙකම අසත්‍ය වේ.
(4) A හා B දෙකම සත්‍ය වේ.

**40.** '**අ**' තීරුවෙන් ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වන අධිකරණ ආයතන දැක්වෙන අතර, '**ආ**' තීරුවෙන් එම අධිකරණ ආයතන මගින් විසඳිය හැකි නඩු පිළිබඳව දැක්වේ. '**අ**' සහ '**ආ**' තීරු නිවැරදිව ගළපා ඇති වරණය තෝරන්න.

| 'අ' | 'ආ' |
|---|---|
| 1. ශ්‍රේෂ්ඨාධිකරණය | A - මිනීමැරුම් සම්බන්ධ නඩු |
| 2. අභියාචනාධිකරණය | B - දික්කසාද සම්බන්ධ නඩු |
| 3. මහාධිකරණය | C - ජනාධිපතිවරණ පෙත්සම් සම්බන්ධ නඩු |
| 4. දිසා අධිකරණය | D - රාජ්‍ය සේවකයන් සම්බන්ධ නඩු |
| 5. මහේස්ත්‍රාත් අධිකරණය | E - පාර්ලිමේන්තු මැතිවරණ පෙත්සම් සම්බන්ධ නඩු |

(1) ABCDE (2) BCDEA (3) CEABD (4) DEACB

* *

[පස්වැනි පිටුව බලන්න.

62 S I, II

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)**
**General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)**

**පුරවැසි අධ්‍යාපනය I, II**
குடியியற் கல்வி I, II
Civic Education I, II

## පුරවැසි අධ්‍යාපනය II

* **පළමුවන** ප්‍රශ්නය අනිවාර්ය වේ.
* **පළමුවන** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව, ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

**1.** (i) රටක් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූලව පාලනය කිරීමෙන් අත්වන ප්‍රයෝජන **දෙකක්** ලියන්න.

(ii) 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 13 වන සංශෝධනයට අනුව බලතල බෙදා දක්වා ඇති ලැයිස්තුවලින් **දෙකක්** සඳහන් කරන්න.

(iii) බහු සංස්කෘතික සමාජයක දක්නට ලැබෙන මූලික ලක්ෂණ **දෙකක්** ලියන්න.

(iv) මිනිස් අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීමේදී මුහුණ දෙන මූලික ආර්ථික ප්‍රශ්න **දෙකක්** ලියන්න.

(v) ගැටුම් ඇතිවීම කෙරෙහි බලපාන ප්‍රධාන මූල **දෙකක්** සඳහන් කරන්න.

(vi) අධිකරණයේ ස්වාධීනත්වය ආරක්ෂා කිරීම සඳහා ගෙන ඇති ක්‍රියාමාර්ග **දෙකක්** දක්වන්න.

(vii) පළාත් පාලන ආයතනවලට පැවරී ඇති කාර්යන්ට අදාළ ප්‍රධාන තේමා **දෙකක්** ලියන්න.

(viii) අයිතිවාසිකම් දිනාගැනීම සඳහා ඇති වූ වැදගත් ඓතිහාසික අවස්ථා **දෙකක්** සඳහන් කරන්න.

(ix) පරිසර පද්ධතියේ සංරචක අතුරෙන් සමාජ පරිසරයට අයත් අංග **දෙකක්** ලියන්න.

(x) ජාත්‍යන්තර සබඳතා පවත්වනු ලබන ප්‍රධාන ස්වරූප **දෙක** නම් කරන්න. (ලකුණු 02 × 10 = 20 යි)

**2.** රටක නීතිය ක්‍රියාත්මක කිරීම යුක්ති සහගතව හා සාධාරණව සිදු වන්නේ නම් සමාජය ද නීතිගරුක වීම නිතැතින්ම සිදු වේ.

(i) නීතිය ආරම්භ වීමට බලපෑ නීතියේ මූලාශ්‍ර **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) අග්‍ර විනිශ්චයකාරතුමා විසින් රීති සම්පාදනය කරන ක්ෂේත්‍ර **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) නීතියේ ආධිපත්‍ය තහවුරු වී ඇති සමාජයක දැකිය හැකි ලක්ෂණ **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(*b*) ඉහත සඳහන් කරන ලද එක් ලක්ෂණයක් ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

**3.** සෘජුව හෝ වක්‍රව පාලන කටයුතු සඳහා මහජනතාවට සහභාගිවීමට අවස්ථාව ලබාදෙන පාලන ක්‍රමයක් ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ලෙස හැඳින්වේ.

(i) ආණ්ඩුවක දක්නට ලැබෙන ප්‍රධාන ආයතන **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක දක්නට ලැබෙන ලක්ෂණ **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) වර්තමානයේ සෘජු ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක කිරීම අපහසු වීමට හේතු **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(*b*) ඉන් **එක්** හේතුවක් අවම කරගැනීමට ගත හැකි ක්‍රියාමාර්ග **තුනක්** පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

[හයවැනි පිටුව බලන්න.

4. විවිධ භාෂා කතා කරන, විවිධ ආගම් අදහන හා විවිධ සිරිත් විරිත් අනුගමනය කරන ජන කණ්ඩායම් එක්ව වාසය කිරීම බහු සංස්කෘතියක් ලෙස හැඳින්විය හැකි ය.

(i) ශ්‍රී ලංකාව තුළ බහු සංස්කෘතික සමාජයක් ඇති වීමට බලපෑ සාධකයක් වන සංක්‍රමණ සඳහා උදාහරණ **දෙකක්** දක්වන්න. (ලකුණු 02 යි)

(ii) ශිෂ්‍යයකු ලෙස ඔබ දෙවන භාෂාවක් ඉගෙන ගැනීමෙන් ලැබෙන වාසි **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) බහු සංස්කෘතික සමාජයක යහපාලනය ක්‍රියාත්මක කිරීමෙන් ජනතාව අත්පත් කරගන්නා වාසි **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(*b*) ඉන් **එකක්** සමාජයේ යහපැවැත්මට හේතුවන ආකාරය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 03 යි)

5. පුද්ගල මනස තුළ ඇතිවන ඉලක්ක, අභිලාෂයන් සහ අවශ්‍යතාවන්ගේ විවිධත්වය මත ගැටුම් නිර්මාණය විය හැකි ය.

(i) රාජ්‍යයක් හෝ රාජ්‍ය දෙකක් අතර ඇතිවිය හැකි ගැටුම්වලට උදාහරණ **දෙකක්** සපයන්න. (ලකුණු 02 යි)

(ii) මැදිහත්කරුවකු තෝරාගැනීමේදී විශේෂ අවධානය යොමු විය යුතු කරුණු **තුනක්** ලියන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) ගැටුම් නිරාකරණය කරගැනීම සඳහා පුරවැසියකු සතු විය යුතු පුද්ගල ගුණාංග **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(*b*) ඉන් **එක්** ගුණාංගයක් මගින් ගැටුම් නිරාකරණය කරගත හැකි ආකාරය කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

6. මනුෂ්‍යයන් ලෙස ගරුත්වයෙන් හා සමානාත්මතාවෙන් යුතුව සමාජයේ ජීවත්වීම සඳහා මානව අයිතිවාසිකම් අපට ප්‍රයෝජනවත් වේ.

(*i*) සිවිල් හා දේශපාලන අයිතිවාසිකම් පිළිබඳ අන්තර්ජාතික සම්මුතිය (ICCPR) මගින් සහතික කර ඇති අයිතිවාසිකම් **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02 යි)

(ii) කාන්තාවන්ට එරෙහිව සිදුවන සියලු ආකාරයේ වෙනස්කම් තුරන් කිරීම පිළිබඳ සම්මුතිය (CEDAW) අනුව කාන්තාවන්ට හිමි අයිතිවාසිකම් **තුනක්** දක්වන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) ළමා අයිතිවාසිකම් ආරක්ෂා කිරීම සඳහා ශ්‍රී ලංකාව ගෙන ඇති ක්‍රියාමාර්ග **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02 යි)

(*b*) පාසල් ශිෂ්‍යයකු ලෙස ඔබෙන් ඉටු විය යුතු යුතුකම් **තුනක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

7. අප අවට ඇති ජීවී-අජීවී සියල්ල පරිසරයට අයත්වන බැවින් පරිසරය ආරක්ෂා කරගැනීම මානව වර්ගයාගේ පැවැත්මට හේතු වේ.

(i) ස්වභාවික සංසිද්ධීන් නිසා පරිසරයට සිදුවන හානි **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) ජලය දූෂණය වීමට බලපාන හේතු **තුනක්** දක්වන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) ජලය දූෂණය වීම වළක්වා ගැනීම සඳහා ඔබට ගතහැකි ක්‍රියාමාර්ග **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02 යි)

(*b*) ජලය දූෂණය වීම නිසා ඇති විය හැකි ගැටලු **තුනක්** විස්තර කරන්න. (ලකුණු 03 යි)

* * *

